20655

OL/2010/64-S-I,II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**64 S I,II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2010 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2010 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2010

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

දෙවන බස - සිංහල I இரண்டாம் மொழி - சிங்களம் I Second Language - Sinhala I

සැලකිය යුතුයි :
(i) සියලු ම ප්‍රශ්නවලට උත්තර සපයන්න.
(ii) අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
(iii) ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
(iv) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා පිළිපදින්න.

கவனிக்க :
(i) எல்லா வினாக்களுக்கும் விடை எழுதுக. வினாத்தாள் I இற்கு 40 புள்ளிகள் வழங்கப்படும்.
(ii) 1 தொடக்கம் 40 வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும் (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் சரியான அல்லது மிகப் பொருத்தமான விடையைத் தெரிவுசெய்க.
(iii) உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.
(iv) அவ்விடைத்தாளின் பிற்பக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாகப் பின்பற்றுக.

**Note :**
(i) *Answer all questions.*
(ii) *In each of the question from* 1 *to* 40, *pick one of the alternatives* (1), (2), (3), (4) *which you consider is correct or most appropriate.*
(iii) *Mark a cross* (X) *on the number corresponding to your choice in the answer sheet.*
(iv) *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

---

● අංක 1 සිට 5 තෙක් ප්‍රශ්නවල තද කළු අකුරින් යෙදෙන පද වෙනුවට **කටවහර අනුව යෙදිය හැකි** වඩාත් සුදුසු පදය තෝරන්න.
1 தொடக்கம் 5 வரையுள்ள வினாக்களில் தடித்த எழுத்தில் உள்ள சொல்லுக்குப் /சொற்களுக்கு **பேச்சுமொழிக்கு** ஏற்றதாக இடத்தக்க மிக உகந்த சொல்லைத் தெரிந்தெடுக்க.
Select the most suitable spoken form for the words printed in thick type in questions No. 1 to 5.

1. **සාහිත්‍ය** සංගමයේ රැස්වීම අදයි.
(1) සාහිත්ය (2) සාහිත්‍යය (3) සාහිත්ත (4) සාහිත්යය

2. එහෙනම් අද ම **ගිහින් එන්න.**
(1) ගිහිනෙන්න (2) ගිහින්නෙන්න (3) ගිහිංඑන්න (4) ගිහින්නෙ

3. ඔයා හරියට **මහත් වෙලා.**
(1) මහත්තෙලා (2) මගත්වෙලා (3) මහත්දෙලා (4) මහතවෙලා

4. **වත්තෙ වැඩ** ඉවරයි.
(1) වද්දෙවෙඩ (2) වත්තෙවෙඩ (3) වත්තෙවැඩ (4) වත්තවැඩ

5. අයියා රස්සාවෙන් **අහක්වුනා.**
(1) අහක්කුනා (2) අහක්වුනා (3) අහග්ගුනා (4) අහක්උනා

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / see page two

● අංක 6 සිට 10 තෙක් ප්‍රශ්නවල ඇතුළත් වාක්‍ය, **උපදේශය/පණිවුඩය/අවවාදය/විධානය/ප්‍රාර්ථනය** යන ඒවා අතුරෙන් කවරකට අයත් දැයි තෝරන්න.
6 தொடக்கம் 10 வரையுள்ள வினாக்களில் இடம்பெறும் வாக்கியங்களை **அறிவுறுத்தல்/ செய்தி/ ஆலோசனை/ கட்டளை/ பிரார்த்தனை** என்னும் பகுதிகளிடையே எதற்குரியது எனத் தெரிக.
Select the appropriate categories **instruction, message, advice, order, wish.** for the sentences given in questions No. **6** to **10.**

6. මෙහි දිය නැමෙන් වළකින්න.
(1) උපදේශය (2) අවවාදය (3) පණිවුඩය (4) ප්‍රාර්ථනය

7. ඔබට යහපතක් ම වේවා !
(1) විධානය (2) ප්‍රාර්ථනය (3) උපදේශය (4) පණිවුඩය

8. කරුණාකර මෙතැනින් මාරුවෙනු.
(1) උපදේශය (2) ප්‍රාර්ථනය (3) විධානය (4) පණිවුඩය

9. නිදහස් උත්සවයට දුන් සිටම සැරසෙමු.
(1) පණිවුඩය (2) අවවාදය (3) විධානය (4) ප්‍රාර්ථනය

10. උඩඟු කම විනාශයට මුල වේ.
(1) අවවාදය (2) ප්‍රාර්ථනය (3) පණිවුඩය (4) උපදේශය

● අංක **11** සිට **14** තෙක් ඇති වාක්‍යවල **හිස්තැනට ගැළපෙන** වචනය තෝරන්න.
**11** தொடக்கம் **14** வரையுள்ள வாக்கியங்களில் **வெற்றிடங்களுக்குப் பொருத்தமான** சொல்லைத் தெரிந்தெடுக்க.
**Select the most suitable word to fill the blank in each sentence in questions No. 11 to 14.**

11. අද දේශනය අහන්න ........................................... හොඳයි නේ ද?
(1) එනවා (2) පැමිණීම (3) එන්න (4) ආවොත්

12. ඔබ ........................................... කුමක් දැයි මට නොතේරේ.
(1) කියනවා (2) කියනු (3) කිවාම (4) කියන්නේ

13. පරිසරය ........................................... පුද්ගලයාගේ ආයුෂ වැඩි වෙයි.
(1) රකින (2) රැකීම (3) රැකි (4) රැකුණු

14. මට දුක් ........................................... ඇයි ?
(1) දෙනවා (2) දීම (3) දුන්නේ (4) දේන්නේ

● අංක **15** සිට **19** තෙක් ඇති පද පේළි අතුරෙන් **නිවැරදි ව යෙදී ඇති පදය** තෝරන්න.
**15** தொடக்கம் **19** வரையுள்ள வினாக்களில் உள்ள சொற்களின் வரிசைகளிடையே **சரியாக இடப்பட்டுள்ள** சொல்லைத் தெரிந்தெடுக்க.
Select the correct word in each group of words in questions No. **15** to **19.**

15. (1) කාලෝචිත (2) කාලෝජිත (3) ගාලෝචිත (4) කාලෝචිත්ත

16. (1) බෙනියම (2) පෙනියම (3) බැනියම (4) පැනියම

17. (1) අන්දගාර (2) අන්ධකාර (3) අන්ධගාර (4) අන්දකාර

18. (1) නිස්සද්ද (2) නිශ්ශබ්ද (3) නිෂ්ශබ්ද (4) නිශ්ශබ්ද

19. (1) ප්‍රධානියා (2) ප්‍රදනියා (3) ප්‍රධාණියා (4) ප්‍රදණියා

[ 3 වැනි පිටුව බලන්න / பக். 3 ஐப் பார்க்க / see page three

20. ව්‍යාකරණානුකූල නිවැරදි වාක්‍යය තෝරන්න.
இலக்கண வழுவற்ற வாக்கியத்தைத் தெரிந்தெடுக்க.
Select the grammatically correct sentence.
(1) ජනාධිපතිතුමා කම්කරුවන් හමුවෙයි. (2) ජනාධිපතිතුමා කම්කරුවෝ හමුවෙයි.
(3) ජනාධිපතිතුමා කම්කරුවන් හමුවෙති. (4) ජනාධිපතිතුමා කම්කරුවෝ හමුවෙති.

- අංක 21 සිට 25 තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමාන පදය** තෝරන්න.
21 தொடக்கம் 25 வரையுள்ள வினாக்களுக்கு தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லை **ஒத்த சொல்லைத்** தெரிந்தெடுக்க.
Select the synonym of word given in questions No. 21 to 25.

21. හසළ : (1) දුර්වල (2) අදක්ෂ (3) ප්‍රවීණ (4) පසුබට
22. ස්ථූල : (1) මහත (2) කුඩා (3) කෙට්ටු (4) හින්
23. අරණ : (1) උදය (2) හිමාලය (3) අසපුව (4) කැලෑව
24. අඹ : (1) වතුර (2) මුහුද (3) ගහ (4) දඹ
25. ජගත් : (1) ලෝකය (2) පෘථිවිය (3) දිනූ (4) මහත

- අංක 26 සිට 30 තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධ** පදය තෝරන්න.
26 தொடக்கம் 30 வரையுள்ள வினாக்களுக்கு தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுக்கு **எதிர்க்கருத்தைத்** தெரிந்தெடுக்க.
Select the antonym of word the word given in questions No. 26 to 30.

26. ව්‍යාජ : (1) බොරු (2) සත්‍ය (3) යුක්තිය (4) වංක
27. කෲර : (1) මෘදු (2) භයානක (3) රුදුරු (4) නපුරු
28. සදොස් : (1) වැරදි (2) දොස් (3) නිදොස් (4) දෝෂ
29. ළපටි : (1) ළා (2) දඩි (3) දෑඩ (4) කුඩා
30. චංචල : (1) ගැඹුරු (2) සසල (3) සෙල්වෙන (4) නිශ්චල

- අංක 31 සිට 35 තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට කිසිදු ආකාරයකින් සම්බන්ධයක් **නොමැති** වචනය තෝරන්න.
31 தொடக்கம் 35 வரையுள்ள வினாக்களுக்கு தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுடன் எவ்வித தொடர்பும் **இல்லாத** சொல்லைத் தெரிந்தெடுக்க.
Select the suitable word which is completely unrelated to the word given in questions No. 31 to 35.

31. මුගුර : (1) ලිය (2) පොල්ල (3) දණ්ඩ (4) කොටය
32. වත : (1) මුහුණ (2) කට (3) වස්ත්‍රය (4) ධනය
33. කේවල : (1) තනි (2) එක් (3) කේලාම් (4) ඒකීය
34. අනාවරණ : (1) සංවෘත (2) වැසුණු (3) හෙළි (4) විවෘත
35. සුළඟ : (1) පවන (2) මාරුතය (3) කුණාටුව (4) ගුවන

[ 4 වැනි පිටුව බලන්න / பக். 4 ஐப் பார்க்க / see page four

- අංක 36 සිට 40 තෙක් ප්‍රශ්නවල දී ඇති ප්‍රකාශ වෙනුවෙන් යෙදිය හැකි **තනි වචනය** තෝරන්න.
36 தொடக்கம் 40 வரையுள்ள வினாக்களுக்கு கீழே தரப்பட்டுள்ள சொற்றொடர்களுக்குப் பதிலாக இடத்தக்க தனிச் சொல்லைத் தெரிந்தெடுக்க.
Select the suitable **single word** for the group of words given in questions No. 36 to 40.

36. රාත්‍රි කාලයේ හැසිරෙන්නා
(1) නිශාචරයා (2) ජලචරයා (3) වනචරයා (4) චන්ද්‍රයා

37. කණට මිහිර දනවන
(1) කන්කලු (2) මනකල් (3) සිත්කලු (4) සුමිහිරි

38. ජනයාගෙන් හිස්ව ඇති
(1) ජනප්‍රිය (2) ජනාකීර්ණ (3) ජනශූන්‍ය (4) ජනාධික

39. තම දේශයට ආදරය කරන්නා
(1) දේශගවේශකයා (2) දේශාටකයා (3) දේශප්‍රේමියා (4) දේශහිතෛෂියා

40. කිසියම් ස්ථානයකට අළුතෙන් පැමිණි තැනැත්තා
(1) ආගන්තුකයා (2) නේවාසිකයා (3) අන්තේවාසිකයා (4) සහෘදයා

※ ※

[ 5 වැනි පිටුව බලන්න / பக். 5 ஐப் பார்க்க / see page five

64 S I,II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2010 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2010 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2010

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி – சிங்களம் I, II
Second Language - Sinhala I, II

දෙවන බස - සිංහල II இரண்டாம் மொழி - சிங்களம் II Second Language - Sinhala II

- I කොටසේ අංක 1 හා 2 ප්‍රශ්න ඇතුළු ව II හා III කොටස්වලින් එක ප්‍රශ්නය බැගින් තෝරාගෙන ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු ලියන්න.

  பகுதி I இல் 1 ஆம் 2 ஆம் வினா உட்பட பகுதி II பகுதி III இல் ஒவ்வொரு வினாவையேனும் தெரிவு செய்து எல்லாமாக நான்கு வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.

  Answer only **four** questions including questions No. **1** and **2** in Part I and selecting **one** question from each Part II and Part III.

## I කොටස / பகுதி I / Part I

1. පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන වචන **150** ක පමණ රචනයක් ලියන්න.
   பின்வரும் தலைப்புகளுள் **ஒன்றைப்** பற்றி ஏறத்தாழ **150** சொற்களில் கட்டுரை எழுதுக.
   Write an essay of about **150** words on any **one** of the following topics.
   (i) ළමා පරපුර සතු වගකීම්
   (ii) පාසල තුළින් ලබන අධ්‍යාපනය
   (iii) අපේ රටේ ස්වාභාවික සම්පත්
   (iv) විදුලි බලය අපතේ නොයවමු.
   (v) පොදු දේපළ ආරක්ෂා කරමු.

2. පහත දැක්වෙන "අ" යටතේ ඇති වාක්‍යවල **කළු** කර ඇති පද සුදුසු පරිදි ගළපා "ආ" යටතේ එන වාක්‍යවල හිස්තැන් සම්පූර්ණ කර ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.
   "அ" நிரலில் தடித்த எழுத்தில் உள்ள சொல்லுக்குப் பொருத்தமான சொல்லை "ஆ" நிரலில் உள்ள வெற்றிடத்திற்குப் பொருத்தமான வகையில் பூர்த்தி செய்து உமது விடைத்தாளில் மீண்டும் எழுதுக.
   Fill the blanks in the sentences in "ආ" with the suitable form of the words in **thick** type in the sentences in "අ" and write them in your answer script.

| | "අ" | "ආ" |
|---|---|---|
| (i) | පාසල් **බස්රිය** එනතුරු ළමයි සිටිති. | ………… බලාසිටින්නේ පාසල් බස්රථය එනතුරු ය. |
| (ii) | මාමා මල්ලි සමග නිවසට **පැමිණියේ** ය. | මල්ලි මාමා සමග නිවසට ………… |
| (iii) | **අම්මා ද නංගි ද** වෙළෙඳපොළට ගියෝ ය. | ………… වෙළෙඳපොළට ගියෝය. |
| (iv) | මව **දරුවන්** පෝෂණය කරයි. | මව විසින් ………… පෝෂණය කෙරේ. |
| (v) | **ගංගා** මුහුදට ගලා බසියි. | ………… මුහුදට ගලා බසිති. |
| (vi) | අපි **නුඹලා** කැඳවන්නෙමු. | නුඹලා ………… කැඳවන්නෙහු. |
| (vii) | **ළමයෙක්** අප දෙස බලා සිටියේ ය. | අපි ………… දෙස බලා සිටියෙමු. |
| (viii) | පියා හෝ මව හෝ රැස්වීමට **ආවා** ය. | මව හෝ පියා හෝ රැස්වීමට ………… |
| (ix) | **ක්‍රීඩකයන්** දුවද්දී ළමයි ප්‍රීති ඝෝෂා පැවැත්වූහ. | ළමයින් ප්‍රීති ඝෝෂා පවත්වද්දී ………… දිවූහ. |
| (x) | අපි **මිනිසුන්** වැඩ කරන තැනට ගියෙමු. | අප ගියේ ………… වැඩ කරන තැනට ය. |

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / see page six

## II කොටස

- 3 හා 4 යන ප්‍රශ්නවලින් එකකට පමණක් පිළිතුරු සපයන්න.
  3, 4 என்னும் வினாக்களுள் ஒரு வினாக்களுக்கு மட்டும் விடை எழுதுக.
  Answer one question from questions No. 3 and 4.

3. වචන සංඛ්‍යාව **25** ක් පමණ වන සේ පහත දැක්වෙන පාඨය සාරාංශ කොට ලියන්න.
   *பின்வரும் உரைப் பகுதியைச் சுருக்கி* **25** *சொற்களில் எழுதுக.*
   Write a summary of the following passage in about **25** words.

   තමා අවට ලෝකය ගැන තොරතුරු දැන ගැනීමට මිනිසා තුළ ඇත්තේ නිම නො වන ආශාවකි. තොරතුරු දැන ගැනීම සඳහා අද ලෝකයේ භාවිත වන ක්‍රමවේද රාශියකි. ඒ අතුරෙන් සන්නිවේදන ක්‍රියාවලියට දායක වෙමින් මහත් වෙහෙසක් ඉටු කරමින් පුවත්පත, ගුවන් විදුලිය හා රූපවාහිනිය මාධ්‍ය ලෝකයේ ප්‍රබලයන් බවට පත්ව ඇත. මේ හැරුණු විට සන්නිවේදන ලෝකයේ ශක්තිවන්තයා බවට චන්ද්‍රිකා තාක්ෂණය පත්ව ඇත. ලොව සිදුවන ඕනෑම සිදුවීමක් මොහොතකින් මුළු ලෝකයට ම දැනගැනීමට හැකියාව එමගින් උදව් තිබේ. මේ අනුව සන්නිවේදන තාක්ෂණයේ ප්‍රබලත්වය හේතු කොටගෙන මුළු ලෝකයම එක ම ගම්මානයක් බවට පත්වී ඇති බව පෙනේ.

4. පහත දැක්වෙන කොටස ලිඛිත භාෂාවෙන් ලියන්න.
   *பின்வரும் உரைப் பகுதியை எழுத்து மொழியில் எழுதுக.*
   Write the following passage in written language.

   පාසලේ අප්‍රේල් නිවාඩුව ලැබුණේ ගිය සතියේ. අප බලා සිටියේ සිංහල හා හින්දු අලුත් අවුරුද්ද එනතුරු ය. මෙවර අලුත් අවුරුද්ද වෙනදට වඩා ප්‍රීතිමත් එකක්. පිටරට සිටින අපේ නැන්දත් මාමාත් එන බව දන්වා තිබුණා. ඒ අය සමග නංගිත් මල්លිත් එන නිසා අපි සිටියේ හරිම සතුටකින්. ඔවුන් අපට තෑගි බෝග ගෙනෙන බවත් දන්වා තිබුණා. අම්මා හා තාත්තා අලුත් අවුරුද්ද වෙනදට වඩා ජයට ගන්නට හිතන බව පෙනුණා. තාත්තා ගෙවල් සෝද පිරිසිදු කර අලුතෙන් තීන්තත් ගෑවා. අම්මා ජනෙල් දොරවල්වලට අලුත් තිරරෙදි දැම්මා. දැන්නම් නිවසට හරිම ලස්සන පෙනුමක් ඇවිල්ලා.

## III කොටස

- 5 හා 6 යන ප්‍රශ්නවලින් එක් ප්‍රශ්නයකට පමණක් පිළිතුරු සපයන්න.
  5 ஆம் 6 வினாக்களுள் ஒரு வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only one question from questions No. 5 and 6.

5. ඔබ පාසලේ පැවැත්වීමට සැලසුම් කර ඇති සිංහල භාෂා කථික තරග ත්‍යාග ප්‍රදානෝත්සවයේ දී ආරාධිත දේශනය පැවැත්වීමට මහාචාර්ය ධම්මික අලහකෝන් මහතාට ආරාධනය කිරීම සඳහා සුදුසු ලිපියක් ලියන්න. පාසලේ සිංහල භාෂා සංගමයේ ලේකම් ඔබ යැයි සිතන්න. (වචන **70 - 75** අතර ප්‍රමාණවත් ය.)

   **නැතහොත්**

   පහත සඳහන් වන්නේ සාරංජි සමූහ ව්‍යාපාර ආයතනයට දුරකථන ක්‍රියාකරවන්නකු බඳවා ගැනීම සඳහා පළ කළ දැන්වීමකින් උපුටාගත් කොටසකි.

   - ශ්‍රී ලාංකිය පුරවැසියකු වීම
   - අ.පො.ස. (සා.පෙළ) සමත්ව තිබීම
   - වයස අවුරුදු 20 - 25 අතර වීම
   - සිංහල, දෙමළ, ඉංග්‍රීසි භාෂා පිළිබඳ මනා දැනුමක් තිබීම
   - දුරකථන ක්‍රියාකරවන්නකු ලෙස ලබා ඇති පළපුරුද්ද

   ඉහත සුදුසුකම් සපුරා ඇති අයකු වන ඔබට මෙම තනතුර සඳහා අයැදුම් කිරීමට අවශ්‍යව ඇත. අදාළ ආයතනයට යැවීම සඳහා ඔබේ ජීව දත්ත ඇතුළත් අයදුම්පතක් සකස් කරන්න.

6. පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය සිංහලට පරිවර්තනය කරන්න.
   *பின்வரும் தமிழ் / ஆங்கில வாக்கியங்களை சிங்களத்தில் மொழி பெயர்க்க.*
   Translate the following Tamil / English sentences into Sinhala.

   (i) *அவர்கள் மிக விரைவாக ஓடுகிறார்கள்.*
   (ii) *அறிவு இடைவெளியை இணைக்கும் பாலமாக இணையம் உதவுகிறது.*
   (iii) *ஒவ்வொரு வருடமும் அதிக எண்ணிக்கையான உல்லாசப் பயணிகள் இலங்கைக்கு வருகின்றனர்.*
   (iv) *எமது சுற்றாடலை பாதுகாப்பது எங்கள் பொறுப்பாகும்.*
   (v) *அலெக்ஸ்சாண்டர் கிரகம்பெல் தொலைபேசியைக் கண்டுபிடித்தார்.*

   (i) They are running very fast.
   (ii) Internet helps to bridge the knowledge gap.
   (iii) Each year large number of tourists visit Sri Lanka.
   (iv) It is our responsibility to protect our environment.
   (v) Alexander Graham Bell is the inventor of the telephone.

※ ※ ※